# බළල් රාළ පාලම් යට

## ජන ගී සහ ජන කවි





සී/ස, ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂිං හවුස් (පුද්) සමාගම

බළල් රාළ පාලම යට
කාටවත්ම නොපෙනෙන්නට
වලිගෙ ඔබාගෙන වතුරට
මාළු බානවා!

දැන්මම කනවා වත්දෝ,
මගදී කනවා වත්දෝ,
පූසිට දෙනවා වත්දෝ,
බළලා හිතනවා!



වත්ත පහළ ගං ඉවුරේ,
නිල්වන් සීතල වතුරේ,
මාළු පැටව් එක ගුළියට,
පිහිනති පන් ගස් අතරේ,

අත්තල, මුත්තල එක වටයයි,
අම්මල, තාත්තල එක වටයයි,
අයියල, අක්කල එක වටයයි,
පුංචි පැටව් පෙළ ගැසිලා එක වටයයි.





ඌරු පැටියා දිය නාගෙන,
පිරිසිදු ඇඳුමක් ඇඳගෙන,
නගුටු පොඩිය හකුළාගෙන,
ගමනක් යනවා.

"මගේ පුතා හරිම හොඳයි,
වැඩට පළට හරි සූරයි
ඒවාගෙම කටකාරයි"
අම්මා කියනවා!


"මමයි පළමුවෙන් දැක්කේ
ඉස්සෙල්ලම මම ආවේ"
"මමයි නුඹට අඬ ගැසුවේ"
හරිම පෙරළියයි!



අවුරුදු කිරිබත් කන්නට,
නෑයෝ ආවා ගෙදරට.

කුකුළු මාමා හිම සපත්තු ලාගෙන,
කිකිළි නැන්ද රන් තෝඩු දමාගෙන.



තාරාවා ලොම් කබාය දාගෙන,
පාත්ත අක්කා මල් ගවසාගෙන.

උඩහ ගාලෙ අප කවුරුත් හඳුනන,
එළදෙන මල් මල් ගවුමක් ඇඳගෙන.



රෑ තිස්සේ පැල් රැකලා,
ඉත්තෑ හාමි නිදි මරලා
අත පය හෝදා ගන්නට
ඇලට බහිනවා.

හා අම්මයි, හා පැටියොයි ගමනක් යන්නා
හා පැටියා 'ජබොස්' ගාලා පොකුණට වැටුණා.
ඉවුරෙන් පහළට පනිමු,
කඹයක් හොයලා ගනිමු,
වතුරෙ ගිලෙන්නට කලියෙන්,
මල්ලිව බේරා ගනිමු.





කැලේ කාටවත් බය නැති,
වෘක රාල දිග දත් ඇති,
මාවැල් ගොන්නක පැටලී,
මරහඬ දෙයි බිම පෙරළී!
පැනපු පිම්ම වැරදුණා,
ඔහු උගුලට අහුවුණා.

හිමිදිරියේ කැලේ මැදින් යන්නේ කවුදෝ?
හිවල් හාමි හදිස්සියේ බැහැරක් වත්දෝ?
කූඩෙ පුරා සුදු බිම්මල් නෙළාගෙන
රස කෑමක් උයන්න යනවා.
පාන්දරින් සෑමදාම මෙහාට එනවා
පොඩි පුතාට, පුංචි දුවට
හතු ගෙන යනවා.



හිවල් හාමි එගොඩ ගොඩේ ගෙයක් හදාලා
අහල පහළ යාළුවන්ට එන්නට කිව්වා.
මෙගොඩ ගොඩේ ලේන් අප්පු පෙනේරෙ නැගිලා
අවුරුදු කිරිබත් කන්නට පැදගෙන ආවා!
ගඟ මැදදී පෙනේරයට වතුර පිරුණු හන්දා,
ලේන් අප්පු නැවත වරක් පැදගෙන ආවා.



